# වි. සුතේයෙව්

# කුකුල් පැටියා හා තාරා පැටියා




අනුවාදය

**පද්ම හර්ෂ කුරණාගේ**




# කුකුල් පැටියා හා තාරා පැටියා

කතාව සහ චිත්‍ර

**වි. සුතේයෙව්**

අනුවාදය

**පද්ම හර්ෂ කුරණගේ**

නව සකැසුම

**මාලක ලලනජීව**


ISBN 978-955-1979-08-9

ප්‍රකාශනය



**කැනොල් පබ්ලිෂිං හවුස්**

**2009**



තාරා පැටියා බිත්තරයෙන් එළියට ආවා.

"මම එළියට ආවා!" ඔහු කීවා.



"මමත් එළියට ආවා" කුකුල් පැටියා කීවා.



"මම ඇවිදින්න යනවා" තාරා පැටියා කීවා.

"මමත් ඇවිදින්න යනවා" කුකුල් පැටියා කීවා.



"මම ගුලක් හාරනවා" තාරා පැටියා කීවා.

"මමත් හාරනවා" කුකුල් පැටියා කීවා.



"මම පණුවෙක් හොයා ගත්තා" තාරා පැටියා කීවා.

"මමත් හොයා ගත්තා" කුකුල් පැටියා කීවා.



"මම සමනලයෙක් ඇල්ලුවා" තාරා පැටියා කීවා.

"මමත් ඇල්ලුවා" කුකුල් පැටියා කීවා.



“මට නාන්න ඕන” තාරා පැටියා කීවා.
“මටත් නාන්න ඕන” කුකුල් පැටියා කීවා.



“මම පීනනවා” තාරා පැටියා කීවා.



"මමත් පීනනවා"! කුකුල් පැටියා කෑ ගැහුවා.



"බේරාගනිල්ලා!..."



තාරා පැටියා කුකුල් පැටියව බේරාගත්තා.



"මම ආයෙත් නාන්න යනව" තාරා පැටියා කීවා.

"මම යන්නෙ නෑ" කුකුල් පැටියා කීවා.

